# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා

ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා

අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා

පිළිගනු මැන අප භක්ති පූජා

නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා

ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති

ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ

ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ

නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා

ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා

එක මවකගෙ දරු කැල බැවිනා

යමු යමු වී නොපමා

ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්



## ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය

පිරිවෙන් මගින් ගිහි පැවිදි දෙපක්ෂයට ම භාෂා, ආගමික හා සාරධර්ම අධ්‍යාපනය ලබා දීම චිරාත් කාලයක සිට පැවත ආ බැවින්, පිරිවෙණ යනු ශ්‍රී ලාංකික අධ්‍යාපනයේ කේන්ද්‍රස්ථානය බවට පත් විය. එය දේශීය ගිහි පැවිදි ශිෂ්‍ය පරම්පරාව පමණක් නොව විදේශීය විද්‍යාර්ථීන් ද ඥානනය කළ විශ්වවිද්‍යාලයක් බඳු ස්ථානයක් විය. එක් එක් යුගයේ අවශ්‍යතා අනුව සකස් වූ විෂයමාලාවක් පිරිවෙන් අධ්‍යාපනය මඟින් සිසුන් වෙත ප්‍රදානය කරනු ලැබිණි. එබැවින් ම එවැනි අධ්‍යාපන මධ්‍යස්ථාන විශ්ව සම්භාවනාවට පත් විය.

විදේශීය ආක්‍රමණ හමුවේ - විශේෂයෙන් ම පෘතුගීසි, ලන්දේසි හා ඉංග්‍රීසි ආක්‍රමණ හමුවේ - පිරිවෙන් අධ්‍යාපනය ගුණාත්මක වශයෙන් හීන වී ගිය බව සැබෑ ය.

එහෙත් 1753 දී ශ්‍රී ලංකාවේ මහණ උපසම්පදාව යළි පිහිටුවීමට ක්‍රියාකළ අසරණ සරණ සරණංකර සංඝරාජ මාහිමිපාණන්ගේ කැපවීම මත පිරිවෙණ නැමැති අධ්‍යාපන ආයතනය ශීඝ්‍ර දියුණුවකට පත් ව දෙස් විදෙස් කීර්තියට පත්වීම අප ලැබූ ජයග්‍රහණයකි.

අනෙකුත් අධ්‍යාපන ක්ෂේත්‍රවලට මෙන් ම පිරිවෙන් අධ්‍යාපනයට ද නිදහස් අධ්‍යාපන සංකල්පය වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම අර්ථවත් කිරීම අපගේ පරම අපේක්ෂාවයි. පිරිවෙන් පෙළපොත් නොමිලයේ සැපයීමෙන් රජය ඉහළ වැයක් දරුව ද එමගින් සමස්ත ජනතාවගේ විනය, සදාචාරය හා යහපැවැත්ම පිරිවෙන් ශිෂ්‍ය ප්‍රජාව වෙතින් ඉටු වනු ඇතැයි උදක් ම අපේක්ෂා ඇති ව මෙම පොත ඔබ අතට පත් කිරීමට ලැබීම භාග්‍යයක් කොට සලකන අතර මෙම පොත පරිහරණය කිරීමෙන් ගිහි පැවිදි දෙපාර්ශ්වයට ම අයත් ශිෂ්‍ය ශිෂ්‍යාවන්ගේ නැණ ගුණ දියුණු වේවායි ද පතමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පිරිවෙන් අධ්‍යාපන අධ්‍යක්ෂතුමාගේ පණිවුඩය

සම්භාව්‍ය අධ්‍යාපනයේ සුවිශේෂී සලකුණ පිරිවෙන් අධ්‍යාපනයයි. ථෙරවාදී සම්ප්‍රදාය කේන්ද්‍ර කරගත් විෂය මාලාව, පුළුල් විෂය ක්ෂේත්‍ර කරා ව්‍යාප්තව ඇත. ලාංකේය සමාජීය අවශ්‍යතා ඉටුකරනු වස් පිරිවෙන් අධ්‍යාපනය ද නව මාන ඔස්සේ සමාජය ආකර්ෂණය කරගෙන සිටියි. පිරිවෙන් අධ්‍යාපනය මඟින් ඉටු කළ යුත්තේ සමාජ අවශ්‍යතා ය. සමාජ අවශ්‍යතා වෙනස් වන විට පිරිවෙන ද, විෂය මාලාව ද, ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රම හා ඇගයීම් ඇතුළු පිරිවෙනේ සමස්ත ක්‍රියාවලිය ද අනන්‍යතාව සුරැකෙන අයුරින් වෙනස් විය යුතු ය. එය සමාජයට සම්ප්‍රේෂණය විය යුතු ය. පිරිවෙන් අධ්‍යාපනයෙහි ශාසනික සම්ප්‍රදායන් රැකගනිමින් සසුනේ චිරස්ථිතිය සඳහා ඇවැසි පදනම ගොඩනැගිය යුතු ය.

වර්තමාන ගෝලීය ප්‍රවණතා හමුවේ හුදකලා වූ තැනක පිරිවෙන තිබිය යුතු නැත. විශ්වීය පුරවැසියකු නිර්මාණය කිරීමේ කාර්යයෙන් බැහැරවීමට පිරිවෙන් අධ්‍යාපනයට ද නොහැකි ය. එසේ විය යුතු ද නැත. සම්භාව්‍ය අධ්‍යාපන සම්ප්‍රදාය රැකගනිමින්, පිරිවෙන් අධ්‍යාපනය යාවත්කාලීන කිරීම උදෙසා නව ඉගෙනුම් ක්‍රියාකාරකම්, ක්‍රම ශිල්ප හා තාක්ෂණික ක්‍රමවේද උපයෝගී කරගත යුතු අතර ඒවායින් බැහැර වීම සිදු නොවිය යුතුය.

නිපුණතා පාදක විෂයමාලා ප්‍රතිසංස්කරණය අනුව මෙම පෙළ පොත ද සම්පාදනය කර ඇත. පිරිපුන් සමාජයක් ගොඩනැගීම සඳහා ශිෂ්‍ය කේන්ද්‍රීය අධ්‍යාපන ක්‍රමවේද මඟින් නූතන ලෝකයේ ශීඝ්‍ර ලෙස ප්‍රසාරණය වන දැනුම යාවත්කාලීන කිරීමට උනන්දු විය යුතු ය. හුදෙක්ම අධ්‍යාපනය යනු ආර්ථික සංවර්ධනය සඳහා ම සීමා වූවක් නොවේ. එය දැනුම් ආර්ථිකයක් පදනම් කරගත් සංකල්ප ඔස්සේ ගමන් කරන ආධ්‍යාත්මික සංවර්ධනයෙන් සතුටු වන පුරවැසියකු නිර්මාණය කිරීමට ද ඉවහල් කොට ගත යුතුය.

ශිෂ්‍ය මිතුරු ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය අනුව සකස් කර ඇති මෙම පෙළ පොත ඔබට මාර්ගෝපදේශයකි. එය යළි භාවිත කළ හැකි අයුරින් පරිශීලනය කිරීම ඔබගේ යුතුකමක් මෙන් ම වගකීමකි.

**විජිත වෙලගෙදර**
අධ්‍යාපන අධ්‍යක්ෂ (පිරිවෙන්)
අධ්‍යාපන අමාත්‍යාංශය

# පෙරවදන

ශ්‍රී ලංකාවේ සම්බුද්ධ ශාසනයේ චිරස්ථිතිය සඳහා බුද්ධිමත් ගුණවත් භික්ෂු භික්ෂුණී පරපුරක් මෙන්ම ධර්මානුධර්ම පටිපන්න උවසු උවැසියන් පිරිසක් ද සිටිය යුතු ය. ඒ සඳහා මැනවින් අධ්‍යාපනය ලබා ශික්ෂණය විය යුතු ය. ශික්ෂිත පුරවැසියා ලෝකයට සම්පතකි. පිරිවෙන් අධ්‍යාපනයෙන් ලබන දැනුම පමණක් නොව භාවනා ක්‍රම පුහුණු වීම ආදියෙන් ලබන මානසික සංවර්ධනය, මිනිස් ජීවිතයේ ලැබිය හැකි ලෞකික හා ලෝකෝත්තර සියලු පුරුෂාර්ථ සාධනය කිරීමෙහිලා පිටිවහලකි.

ත්‍රිවිධ ශාසනයේ ගැඹුර හා එහි අනේකවිධ වටිනාකම් පිළිබඳ ලබන අවබෝධය අතිශය වැදගත් වේ. අප හමුවේ ඇති අනාගත අභියෝග සාර්ථකව ජයග්‍රහණය කරනු වස් ඒ සඳහා අවැසි දැනුම, ආකල්ප හා කුසලතා වර්ධනය කරගත යුතු ය. ලෝකයේ විශිෂ්ටතම දාර්ශනික වූත් ඓතිහාසික වූත් ජීවන රටාවක හිමිකම අපට ඇත. පිරිපුන් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියෙන් අධ්‍යාපනයේ අරමුණු හා පරමාර්ථ සාක්ෂාත් කරගැනීම සඳහා කාර්යක්ෂමව ඵලදායී අයුරින් කටයුතු කළ යුතු ය. විශ්වීය පුරවැසියකු ලෙස ඔබගේ උත්සාහය, කැපවීම හා අධිෂ්ඨානශීලීව කටයුතු කිරීම, තිරසර සංවර්ධනයට ද රුකුලකි.

මෙම පොත සම්පාදනය කිරීම සඳහා කටයුතු කළ ලේඛක හා සංස්කාර මණ්ඩලයේ සියලු දෙනාටත් පිරිවෙන් අධ්‍යාපන ශාඛාවේ හා අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ කෘතඥතාව හිමිවේ.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

**නියාමනය හා අධීක්ෂණය :**

| | |
|---|---|
| ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම :**

| | |
|---|---|
| විජිත වෙලගෙදර | - අධ්‍යාපන අධ්‍යක්ෂ (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි | - කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සම්බන්ධීකරණය :**

| | |
|---|---|
| පූජ්‍ය රඹාවැවේ පාලිත හිමි | - සමස්ත ලංකා සංස්කෘත විෂය උපදේශක<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| ඩී. එම්. ජේ. පුෂ්පකුමාර | - නියෝජ්‍ය කොමසාරිස් (පාලන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ප්‍රදීප් ඉඳුනිල් පියරත්න | - සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**උපදේශක :**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය ඉඳුරාගරේ ධම්මරතන හිමි | - අංශාධිපති<br>සංස්කෘත අධ්‍යයන අංශය<br>කැලණිය විශ්වවිද්‍යාලය |

**ලේඛක මණ්ඩලය :**

| | |
|---|---|
| පූජ්‍ය උඩගොමඩියේ ආනන්දසිරි හිමි<br>(සභාපති) | - ආයතනාධිපති<br>සමාජ සේවා භික්ෂු අභ්‍යාස ආයතනය<br>වේනමුල්ල, අම්බලන්ගොඩ |
| පූජ්‍ය නිග්ගහ ඤාණින්ද හිමි | - ගුරු උපදේශක<br>ශ්‍රී සරණතිස්ස පිරිවෙන<br>මොරගහහේන, මිල්ලෑව, හොරණ |
| එච්. ඒ. ඩී. පී. පී. හපුආරච්චි | - ගුරු උපදේශක<br>කු/ විශුද්ධායතන විද්‍යායතන පිරිවෙන<br>කච්චේරිය පාර, කුරුණෑගල |
| කේ. ඩී. රංජිත් | - පරිවේණාචාර්ය<br>බප/කැල කල්‍යාණි ප්‍රදීප විද්‍යායතන පිරිවෙන<br>දෙල්ගොඩ |

**සංස්කරණය :**

පූජ්‍ය දේවගොඩ පියරතන හිමි - කථිකාචාර්ය
සංස්කෘත අධ්‍යයන අංශය
කැලණිය විශ්වවිද්‍යාලය

**සෝදුපත් කියවීම :**

පූජ්‍ය රඹාවැවේ පාලිත හිමි - සමස්ත ලංකා සංස්කෘත විෂය උපදේශක
අධ්‍යාපන අමාත්‍යාංශය

**පිට කවරය :**

ඩබ්. සංගීතා නෙළුම් කුමාරි - පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පරිගණක තාක්ෂණය :**

පූජ්‍ය අබේසේකරගම විජිත හිමි - පරිවේණාචාර්ය
ගා/ ශ්‍රී රේවත විද්‍යායතන පිරිවෙන
කුඹල්වැල්ල, ගාල්ල

පූජ්‍ය බණ්ඩාරවෙල රතනසාර හිමි - සහකාර ලේකම්
ශ්‍රී ලංකා ප්‍රාචීන භාෂෝපාකාර සමාගම
අධ්‍යාපන අමාත්‍යාංශය

ක්‍රිෂ්නි සමුද්ධිකා නවරත්නගේ - පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

01
පාඩම
प्रथमः पाठः

# හෝඩි පොතේ පාඩම්

සංස්කෘත භාෂාවට අයත් වචන ලියන සංකේත දේවනාගරී අක්ෂර මාලාව යැයි අපි දනිමු. අක්ෂර 49කින් සමන්විත එම දේවනාගරී හෝඩිය මෙසේ ය.

## ස්වර 14

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| अ | आ | इ | ई | उ | ऊ | ऋ |
| ॠ | ऌ | ॡ | ए | ऐ | ओ | औ |

## ව්‍යඤ්ජන 35

| | | | | |
|---|---|---|---|---|
| क | ख | ग | घ | ङ |
| च | छ | ज | झ | ञ |
| ट | ठ | ड | ढ | ण |
| त | थ | द | ध | न |
| प | फ | ब | भ | म |
| य | र | ल | व | |
| श | ष | स | ह | |
| अं | अः | | | |

## ස්වර මාලාවේ ප්‍රභේද

### 01. හ්‍රස්ව

එක් මාත්‍රාවක් තුළ උච්චාරණය වන්නේ හ්‍රස්ව නම්. ඒවා පහකි.

अ इ उ ऋ ऌ

### 02. දීර්ඝ

මාත්‍රා දෙකක් තුළ උච්චාරණය වීම මෙහි ලක්‍ෂණයයි. ඒවා 09කි.

आ ई ऊ ॠ ॡ ए ऐ ओ औ

### 03. ප්ලුත

ලියා පෙන්විය නො හැකි ය. එහෙත් දුර සිටින කෙනෙකුට අඬ ගැසීමේදී, ගායනයේදී, ඇඬීමේදී, විචාරයේදී අකුරු ප්ලුත ව කියවේ. ප්ලුතයක මාත්‍රා 02ට වැඩි ය. වචන අවසානයේ ඇදී කියවීම ප්ලුත ස්වභාවයයි.

### 04. සන්ධ්‍යක්‍ෂර

අකුරු දෙකක් එකට එකතු වී සෑදෙන අකුරු සන්ධ්‍යක්‍ෂර නම් වේ. ඒවා 04කි.

ए ऐ ओ औ

### 05. නාමින්

ස්වර මාලාවේ अ आ දෙක හැර ඉතිරි අකුරු 12 නාමින් වේ.

इ ई उ ऊ ऋ ॠ

ऌ ॡ ए ऐ ओ औ

## 06. අනාමින්

ස්වර මාලාවේ **अ आ** දෙක අනාමින් වේ.

**මතකයට**




## ව්‍යඤ්ජන ප්‍රභේද

### 01. වර්ගාක්ෂර

ව්‍යඤ්ජනවල **क** සිට **म** දක්වා අකුරු 25 වර්ගාක්ෂර නම් වේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| क | ख | ग | घ | ङ | - ක වර්ගය |
| च | छ | ज | झ | ञ | - ච වර්ගය |
| ट | ठ | ड | ढ | ण | - ට වර්ගය |
| त | थ | द | ध | न | - ත වර්ගය |
| प | फ | ब | भ | म | - ප වර්ගය |

02. අන්තඃස්ථ

අන්තඃස්ථ 04 කි. ස්වර ව්‍යඤ්ජන ස්වභාවයන් දෙක ම දරන බැවින් ද, වර්ගාක්ෂර හා ඌෂ්මන් අක්ෂර අතර පිහිටන බැවින් ද මෙ නමින් හැඳින්වේ. ඒවා නම්,

य व र ल

03. ඌෂ්මන්

උච්චාරණයේදී සෙසු අකුරුවලට වඩා උණුසුම් වායුවක් පිටවන බැවින් මෙ නමින් හැඳින්වේ. ඒවා 04 කි.

श ष स ह

04. අනුස්වාර

බින්දුව අනුස්වාරය යි.

अं

05. විසර්ග

උඩ යට පිහිටන බින්දු දෙක විසර්ග නම්.

अः

06. වර්ගමූල

වර්ගයන්ගේ මුල පිහිටන අකුරු 05 වර්ගමූල වේ.

क च ट त प

07. වර්ගාන්ත / අනුනාසික

වර්ගයන්හි අන්තයේ හෙවත් කෙළවර පිහිටන අකුරු 05 වර්ගාන්ත වේ. ඒවා ම අනුනාසිකාක්ෂර නමින් ද හැඳින්වේ.

ङ ञ ण न म

08. අල්පප්‍රාණ

වර්ගයන්හි පළමු හා තෙවැනි අකුරු 10 අල්පප්‍රාණ වේ.

क च ट त प
ज ड द ग ब

09. මහාප්‍රාණ

වර්ගයන්හි දෙවැනි, සිවුවැනි අකුරු 10 මහාප්‍රාණ වේ.

ख छ ठ थ फ
घ झ ढ ध भ

10. අඝෝෂ

වර්ගයන්හි පළමු, දෙවැනි අකුරු හා श ष स යන අකුරු 13 අඝෝෂ වේ.

क ख च छ ट ठ
त थ प फ श ष स

11. ඝෝෂ

වර්ගයන්හි තෙවැනි, සිවුවැනි, පස්වැනි අකුරු හා य र ल व ह යන අකුරු 20 ඝෝෂ වේ.

ग घ ङ ज झ ञ
ड ढ ण द ध न
ब भ म य र ल व ह

මීට අමතරව සියලු ම ස්වර ඝෝෂ නම් වේ. එවිට ඝෝෂ සියල්ල 34 කි.

ස්වර ඝෝෂ 14+ ව්‍යඤ්ජන ඝෝෂ 20 = 34

## 1.1 අභ්‍යාසය

01. පහත පඩිපෙළේ පඩි, එක් එක් වචනවලින් නම් කර ඇත. එම පඩිවලට අදාළ අකුරු ඒ ඒ පඩිවල නිවැරදිව සටහන් කරන්න.




02. පහත සඳහන් අවස්ථා වටහා ගන්න. ඒ අතරින් ''ප්ලුත'' ය යෙදී ඇති තැන් වෙන් කර හඳුනාගෙන ලියා දක්වන්න.

1. බඩගිනි වූ දරුවෙක් කිරි ඉල්ලා අඬයි
2. බල්ලෙක් හඬට බුරයි.
3. ගස්මුදුනක සිටින මොනරෙක් නාද කරයි.
4. ධර්ම ශාලාවේ සිටින පොඩි හාමුදුරුවන්ට ලොකු හාමුදුරුවෝ ආවාසයේ සිට ''උන්නාන්සේ'' යැයි අඬ ගසයි.
5. දන්නෝ බුදුන්ගේ........ ශ්‍රී ධර්මස්කන්ධා....... යන ගීතයේ තනුව ඇසේ.
6. අත්තක හිඳින කපුටෙක් කෑ ගසයි.
7. කුකුළෙක් තටු සලා හඬයි.
8. පිරිවෙන් නො පැමිණි ශිෂ්‍ය හිමිනමකගෙන් ඒ පිළිබඳ ව ගුරු හිමි ප්‍රශ්න කරයි.

03. පහත විශාල මල්ලේ ඇති අකුරු අතරින් කුඩා මලුවලට අයත් අකුරු තෝරා එම මලුවලට දමන්න.



04. පහත වචන කියවා එහි ඇති අකුරු නිර්දේශ කර ඇති පරිදි වගුවේ යොදන්න.

| | | | |
|---|---|---|---|
| १. | नर | २. | जनक |
| ३. | चषक | ४. | फल |
| ५. | अलस | ६. | भषण |
| ७. | शलभ | ८. | धवल |
| ९. | चटक | १०. | गमन |
| ११. | पठन | १२. | आपतन |
| १३. | आकर | १४. | घटन |
| १५. | छगलक | १६. | झञझन |
| १७. | अथ | १८. | दमरा |
| १९. | उपयम | २०. | उभयचर |

| වර්ග මූල | වර්ගාන්ත/ අනුනාසික | මහාප්‍රාණ | අන්තඃස්ථ | ඌෂ්මන් |
|---|---|---|---|---|
| | | | | |

05. ව්‍යඤ්ජන අක්ෂර සියල්ල ම ඔබේ අභ්‍යාස පොතේ පිළිවෙළින් ලියන්න. ඉන්පසු ඝෝෂ අකුරු එක පාටකින් ද අඝෝෂ අකුරු තව පාටකින් ද පාට කරන්න.

06. අල්පප්‍රාණ ඇතුළත් වන සේ වචන දහයක් පෙළ පොතෙන් උපුටා ලියන්න.

**භාවිතයට**

निरुत्साहं निरानन्दं निर्वीर्यमरिनन्दनं ।
स कर्मकारभस्त्रेव श्वसन्नपि न जीवति ॥

උත්සාහයක් නැති, කිසි ම දෙයකින් සෑහීමක් නැති, වීර්යයක් නැති, විරුද්ධවාදීන් සතුටු කරන්නා වූ පුද්ගලයා මයිනහමක් (කම්මල් කර්මාන්තයෙහි භාවිත කරන) මෙන් හුස්ම ගත්තත් ජීවත් වන්නෙක් නො වේ.

02
පාඩම
द्वितीयः पाठः

# පද කියවමු; විබත් සොයමු.

## 2.1 ක්‍රියාකාරකම

පෙර උගත් පාඩම් යළි මතකයට නගා ගනිමු. අපේ දැනුම අපි ම මනිමු. ඒ සඳහා මෙම ඡේදය කියවා වර්ණ ගැන් වූ වචනවල විභක්තිය, වචනය හා තේරුම ලියමු.

### उद्यानम्

बालकः उद्यानं गच्छति। तत्र वृक्षेषु पुष्पाणि विकसन्ति। पुष्पेषु भृङ्गाः तिष्ठन्ति। ते पुष्पात् पुष्पं गत्वा पुष्पेभ्यः मकरन्दं पिबन्ति। कवयः ते मधुपाः इति वदन्ति। बालकाः कपिभ्यः फलं ददन्ति। कपिना तत् शाबकाय दीयते। उद्याने तरुषु पत्राणि वायुना कम्पन्ते। शाखाभ्यः फलानि पतन्ति। शकुनौ च कपी च तरूणां शाखासु उपविशन्ति। बालकस्य पिता माता च फलके तिष्ठतः। शकुनाः शाबकैः सह इतस्ततः डयन्ते। शाबकाः नेत्रा सार्धं क्रीडन्ति। लङ्कायां जननेतृणां प्रतिमाः उद्याने सन्ति। लतासु पुष्पाणि विचित्राणि। वनिताः लतासु जलं सिञ्चन्ति। पुष्पानि भ्रमरेभ्यः मधु ददन्ति। उद्यानपालकाः वृक्षस्य जीर्णशाखाः च लतायाः म्लानपत्राणि च छिन्दन्ति। पाठशालासु गुरवः शिष्यान् उद्याने विचित्रानि पुष्पाणि दर्शयन्ति। सञ्चारका रथैः उद्यानं गच्छन्ति। गुरूणां हस्तेषु छत्राणि सन्ति। छात्राः हस्तैः भोजनं उपनयन्ति। ते तरोः छायायाम् आहाराय उपविशन्ति। उद्यानभूमौ तत्र तत्र फलकानि सन्ति। फलकेषु एवं दृश्यते "हे साधवः वयं परिसरं रक्षामः" इति॥

## 2.1 අභ්‍යාසය

ශ්ලෝකයක පාද හතරකි. ඉන් එක් පාදයකින් එක බැගින් විභක්ති පද උපුටා දක්වා එම පදවල සිංහලාර්ථය ලියන්න.

१. कुग्रामवासः परतन्त्रसेवा
कुभोजनं क्रूरमुखी च भार्या।
पुत्रोऽपि मूर्खो विधवा च कन्या
षड् जीवलोके नरकं वदन्ति॥

२.	अक्षरं गुरुहस्तेन
मातृहस्तेन भोजनम् ।
दानञ्चापि स्वहस्तेन
परहस्तेन मर्दनम् ॥

३.	अत्यन्तकोपः कटुकं च भाषणं
दारिद्रबन्धूषु जनेषु वैरम् ।
नीचेषु सङ्गः परदारसेवनं
नरस्य चिह्नं नरकंङ्गमस्य ॥

४.	किं मुक्ताहारेण च कर्कटस्य
किमन्नपानेन च गद्रभस्य ।
अन्धस्य दीपाद्बधिरस्य गीतान्
मूर्खस्य किं धर्मकथाप्रसङ्गात् ॥

## 2.2 අභ්‍යාසය

පහත සඳහන් ශබ්ද අයත් විභක්තිය හා වචනය ඉදිරියේ හරි (✓) ලකුණ යොදන්න.

| पद | विभक्ति | | | | | | | | वचन | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | प्रथमा | सम्बोधन | द्वितीया | तृतीया | चतुर्थी | पञ्चमी | षष्ठी | सप्तमी | एकवचन | द्विवचन | बहुवचन |
| बालकाः | ✓ | | | | | | | | | | ✓ |
| शकुनम् | | | | | | | | | | | |
| मृगैः | | | | | | | | | | | |
| सारथयः | | | | | | | | | | | |

| | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| नृपतिना | | | | | | | | | | | |
| जन्तवे | | | | | | | | | | | |
| शशकस्य | | | | | | | | | | | |
| पित्रा | | | | | | | | | | | |
| निशापतेः | | | | | | | | | | | |
| वनितायाः | | | | | | | | | | | |
| वालुकायाम् | | | | | | | | | | | |
| शृगालौ | | | | | | | | | | | |
| प्रज्ञासु | | | | | | | | | | | |
| भार्याभिः | | | | | | | | | | | |
| तारकाम् | | | | | | | | | | | |
| उदकाय | | | | | | | | | | | |
| हे गायकाः | | | | | | | | | | | |
| छाययोः | | | | | | | | | | | |
| वार्तानाम् | | | | | | | | | | | |
| कर्त्रोः | | | | | | | | | | | |
| नेतृभ्यः | | | | | | | | | | | |
| नयनात् | | | | | | | | | | | |
| उटजे | | | | | | | | | | | |
| गगनयानाभ्याम् | | | | | | | | | | | |
| खनित्रेण | | | | | | | | | | | |
| शिशवे | | | | | | | | | | | |
| इन्दुना | | | | | | | | | | | |
| अहीन् | | | | | | | | | | | |
| सूनवे | | | | | | | | | | | |
| हे नृपते | | | | | | | | | | | |
| सभायाः | | | | | | | | | | | |
| शास्तुः | | | | | | | | | | | |
| वस्त्रैः | | | | | | | | | | | |
| भूषणानि | | | | | | | | | | | |

## උපකාරක පද

| නාමපද | | | ක්‍රියාපද | | |
|---|---|---|---|---|---|
| शावक | - | පැටියා | सिञ्चति | - | ඉසියි |
| भ्रमर | - | බමරා | स्पृशति | - | අල්ලයි |
| मधु | - | පැණි | उपनयति | - | ළඟට ගෙන යයි |
| उद्यानपालक | - | උයන්පල්ලා | | | |
| म्लानपत्र | - | මැලවුණු කොළ | | | |
| द्विचक्र | - | පා පැදිය | | | |
| चिह्न | - | ලකුණ/සලකුණ | | | |
| गर्दभ | - | කොටළුවා | | | |
| कर्कट | - | කකුළුවා | | | |
| निशापति | - | හඳ | | | |
| उटज | - | පැළ | | | |
| खनित्र | - | උදැල්ල | | | |
| सूनु | - | පුතා | | | |

භාවිතයට

कुदेशमासाद्य कुतार्थसञ्चयः - कुपुत्रमासाद्य कुतो जलाञ्जलिः ।
कुगेहिनिं प्राप्य गृहे कुतः सुखं - कुशिष्यमध्यापयतः कुतो यशः ॥

නරක දේශයකට ගොස් (පරදේශයකට ගොස්) උපයන ධනය කුමට ද? නරක පුතු විසින් මරණාසන්න මොහොතේදී දෙන ජල ඇඳිලි කුමට ද? නරක අඹුවක සමග ගෙයි විඳින සැප කුමක් ද ? නරක ශිෂ්‍යයෙකුට උගන්වා ලබන යසස (කීර්තිය) කුමක් ද?

03
පාඩම
तृतीयः पाठः

# එකතු කරමු; වැකි ගලපමු




## 3.1 අභ්‍යාසය

ඉහත කොටස් දෙකක් හැඩතල අනුව සම්බන්ධ කළ විට වාක්‍යයක් සෑදේ. හැඩතල අනුව කොටස් දෙකක් ගලපා වාක්‍යය බැගින් හදමු.

## 3.2 අභ්‍යාසය

පහත සඳහන් වගුව ප්‍රමාණයෙන් විශාල වන සේ ඔබේ අභ්‍යාස පොතෙහි ඇඳ ගන්න. පුවරුවේ සඳහන් පද උපුටාගෙන අදාළ පුරුෂය හා වචනය යටතේ ගොනු කරන්න.

तुष्यामि / कर्षथ / धावति / वहसि / वदामः
त्रस्यन्ति / रोदावः / म्लायतः / ताडयथः / कूजति
गायतः / खनसि / राजन्ति / चरामः / लालयथ
पतावः / तर्कयथः / इच्छामि / हरन्ति / वपामि
नमथ / पठामः / जयति / पश्यसि / गच्छतः
पूजयथः / आरोहामः / क्रीडावः / वसन्ति

| पुरुष | एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|---|
| प्रथमपुरुष | | | |
| मध्यमपुरुष | | | |
| उत्तमपुरुष | | | |

## 3.3 අභ්‍යාසය

01. පහත සඳහන් වගුවේ ඇත්තේ වර්තමාන කාල (ලට් රූප) හා අතීත කාල (ලඞ් රූපයන්) ය.
02. ලට් ලකාර රූපයට ගැලපෙන ලඞ් ලකාර රූපය තෝරන්න.
03. ලට් රූපය ඉදිරියේ ඇති අංකය ලඞ් රූපය ඉදිරියේ ඇති කොටුවේ ලියන්න.
04. නිදසුන අනුගමනය කරන්න.

| | लट् | | लङ् |
|---|---|---|---|
| 01 | क्रीडति | | अनमम् |
| 02 | कथयन्ति | | अभजत् |
| 03 | हर्षथः | | अवन्दाम |
| 04 | ताडयामि | | अपठतम् |
| 05 | पूजयतः | | अमुण्डम् |
| 06 | मुञ्चसि | | उपाविशताम् |
| 07 | गायामः | | अवदत् |
| 08 | पठथः | | अरचयम् |
| 09 | पश्यावः | | अहर्षतम् |
| 10 | जयन्ति | | अमुञ्चः |
| 11 | रचयामि | | अपूजयताम् |
| 12 | हर्षति | | असिञ्चः |
| 13 | मिलसि | | अपतन् |
| 14 | वन्दामः | | अलभावहि |
| 15 | पालयथ | | अमिलः |
| 16 | धावतः | | अजीवाम |
| 17 | हसावः | 01 | अक्रीडत् |
| 18 | तरथः | | अभवः |
| 19 | वसथ | | अलिखतम् |
| 20 | नमामि | | अवसत |
| 21 | वदति | | अहसाव |
| 22 | जीवामः | | अतरतम् |

| | | | |
|---|---|---|---|
| 23 | लिखथः | | अपालयत |
| 24 | पतन्ति | | अजयन् |
| 25 | उपविशतः | | अधावताम् |
| 26 | भवसि | | अपश्याव |
| 27 | लभाव | | अताडयम् |
| 28 | भजति | | अहर्षत् |
| 29 | मुण्डामि | | अगायाम |
| 30 | सिञ्चसि | 02 | अकथयन् |

## 3.4 අභ්‍යාසය

නිවැරදි රූපය වරහන් තුළින් තෝරා ලියන්න.

१. गजः ............................... (अखादन् / अखादत् / अखादम्)

२. भिक्षुः ............................... (अचरताम् / अचरः / अचरत् )

३. वयम् ............................... (अवन्दाव / अवन्दत् / अवन्दाम )

४. त्वं पाठम् ............................... (अपठः / अपठाव / अपठन् )

५. मृगौ वने ............................... (अवसत / अवसताम् / अवसः )

६. युवां पुस्तके ............................... (अलिखम् / अलिखताम् / अलिखतम्)

७. गुरवः शिष्यान् ............................... (उपादिशत् / उपादिशाव / उपादिशन् )

८. अहं कुञ्जे शकुणं ............................... (अपश्यताम् / अपश्यम् / अपश्यत्)

९. मण्डुकः सरसि ............................... (अनदम् / अनदत् / अनदः)

१०. आवाम् पर्वतात् ............................... (अपतत् / अपतताम् / अपताव)

**ක්‍රියා පද**

| | | |
|---|---|---|
| मुण्डति | - | මුඩු කරයි |
| भषति | - | බුරයි |
| मिलति | - | හමුවෙයි |
| राजति | - | බබළයි |
| लालयति | - | නළවයි |
| तर्कयति | - | තර්ක කරයි |

**භාවිතයට**

शक्यो वारयितुं जलेन हुतभुक् छत्रेण सूर्यातपो
नागेन्द्रो निशिताङ्कुशेन समदो दण्डेन गोगर्दभौ ।
व्याधिर्भेषजसंग्रहैश्च विविधैर्मन्त्रप्रयोगैर्विषं
सर्वस्यौषधमस्ति शास्त्रविहितं मूर्खस्य नास्त्यौषधम् ॥

ජලයෙන් ගිනි නිවිය හැකි ය. කුඩයෙන් අව්ව වැළකිය හැකි ය. තියුණු හෙණ්ඩුවෙන් මද කිපුණු ඇතෙකු මැඩලිය හැකි ය. මුගුරකින් නැතහොත් දඬුවමකින් ගව බූරු ආදීන් හීලෑ කළ හැකි ය. බෙහෙත්වලින් රෝග ද විවිධ මන්ත්‍රවලින් විෂ ද නැසිය හැකි ය. ඒ අනුව සෑම දෙයකට ම ඔසුවක් ඇත. නමුත් නූගත් මෝඩයාට කිසිදු බෙහෙතක් නැත. (මෝඩයා කිසිදු ලෙසකින් හික්මවිය නො හැකි ය).

04
පාඩම
चतुर्थः पाठः

# රට හඳුනමු; එහි වසමු




## 4.1 ක්‍රියාකාරකම

ඉහත දැක්වෙන්නේ ශ්‍රී ලංකාවේ පළාත් නවයේ රූප සටහන් ය. මෙය ඡායා පිටපත් කරගන්න. එම රූප වෙන වෙන ම කපා ගන්න. ලංකා සිතියම නිවැරදි ව නිර්මාණය වන සේ කොළයක අලවන්න.

## प्रश्नोत्तराणि

१. परिवेणाधिपतिः परिवेणं पालयिष्यति ।

२. श्रामणेराः कौतुकागारं गमिष्यन्ति ।

३. वयं पुस्तकं पठिष्यामः ।

४. त्वम् अक्षरं लिखिष्यसि ।

५. सर्वे श्री लाङ्किकाः अनागते हसिष्यन्ति ।

६. अहं धर्मं वदिष्यामि ।

७. यूयं यतीन् वन्दिष्यथ ।

८. आवां भूमौ निषीदिष्यावः ।

९. भटसेना देशं रक्षिष्यन्ति ।

१०. युवां नामलेखनं हरिष्यथः ।

११. अमितः च दमितः च द्वौ सखायौ भविष्यतः ।

१२. परिगणकयन्त्रम् अध्ययनविषये महोपकारकं भविष्यति ।

## 4.2 ක්‍රියාකාරකම

1. ඉදිරි පිටුවෙහි ඇති වාක්‍යයන් ශබ්දනගා කියවන්න.

2. වාක්‍යවල උක්තාඛ්‍යාත පද සම්බන්ධය රැකී ඇත්දැයි විමසිල්ලෙන් පරීක්‍ෂා කරන්න.

3. ගුරු භවතා අසන පහත ප්‍රශ්නවලට ඉහත වාක්‍ය අතුරින් පිළිතුරු වාක්‍ය තෝරන්න. සම්පූර්ණ වාක්‍යයක් සේ හඬනගා කියවන්න. කෙටි පිළිතුරු නො සැපයිය යුතුයි.

प्रश्नाः -

१. कः परिवेणं पालयिष्यति ?

२. अहं किं लिखिष्यामि ?

३. भटसेनाः किं करिष्यन्ति ?

४. त्वं किं वदिष्यसि ?

५. किम् अध्ययनाय महोपकारकं भविष्यति ?

६. यूयं किं पठिष्यथ ?

७. के कुत्र गमिष्यन्ति ?

८. के कान् वन्दिष्यन्ति ?

९. अमितः च दमितः च कौ भविष्यतः ?

१०. युवां कुत्र निषीदिष्यथः ?

११. के अनागते हसिष्यन्ति ?

१२. आवां किं हरिष्यावः ?

## 4.1 අභ්‍යාසය

1. පළමු පේළියේ වර්තමානකාල ක්‍රියාරූපවලට (ලට්රූපවලට) හා අතීත ක්‍රියා රූපවලට (ලඞ් රූපවලට) ගැළපෙන අනාගතකාල ක්‍රියාරූපය (ලෘට් රූපය) දෙවැනි පේළියෙන් තෝරා යා කරන්න.

2. හිස් තැන්වල සිංහල තේරුම ලියන්න.

| පළමු පේළිය | දෙවැනි පේළිය |
|---|---|
| मुण्डति - මුඩු කරයි | वादयिष्यन्ति - .................................. |
| वपामि - වපුරමි | सम्मिलिष्यथः - .................................. |
| अगच्छत् - ගියේ ය | लभिष्यसे - .................................. |
| अपठम् - පාඩම් කළෙමි | गायिष्यतः - .................................. |
| रटसि - කෑ ගසහි | मुण्डिष्यति - මුඩු කරන්නේය |
| वादयन्ति - වයති | धाविष्यन्ति - .................................. |
| अधावन् - දිව්වෝය | गमिष्यति - .................................. |
| अलभथाः - ලැබුවෙහි | प्रसीदिष्यथ - .................................. |
| वर्जयामः - වර්ජනය කරමු | वपिष्यामि - .................................. |
| अपतताम् - දෙදෙනෙක් වැටුණෝය | लिखिष्यामः - .................................. |
| प्रसीदथ - පැහැදෙහු | पठिष्यामि - .................................. |
| अखादतम् - දෙදෙනෙක් කෑවෙහු | वन्दिष्यथ - .................................. |
| गायतः - දෙදෙනෙක් ගයති | रटिष्यसि - .................................. |
| अवन्दत - වැන්දෙහු | क्रीडिष्यावः - .................................. |
| वदावः - දෙදෙනෙක් කියමු | वर्जयिष्यामः - .................................. |
| अक्रीडाव - දෙදෙනෙක් ක්‍රීඩා කළෙමු | खादिष्यथः - .................................. |
| सम्मिलथः - දෙදෙනෙක් හමුවෙහු | पतिष्यतः - .................................. |
| अलिखाम - ලීවෙමු | वदिष्यावः - .................................. |

## උපකාරක පද

### ක්‍රියා පද

| | | |
|---|---|---|
| पालयति | - | පාලනය කරයි |
| निषीदति | - | හිඳියි |
| वदति | - | කියයි |

**භාවිතයට**

पण्डिते च गुणाः सर्वे - मूर्खे दोषा हि केवलम् ।
तस्मान् मूर्खसहस्रेषु - प्राज्ञ एको विशिष्यते ॥

හැම ගුණයක් ම බුද්ධිමතා සතු ය. හැම දෝෂයක් ම මෝඩයා තුළ ය. එබැවින් මෝඩයන් දහසකට වඩා එක ම වියතා අගනේයි.

05
පාඩම
पञ्चमः पाठः

# එන්න; කන්න; බොන්න

उत्तरपञ्चालदेशे कस्मिंश्चिद् अरण्यप्रदेशे एकः पर्वतः अभवत्। तत्र द्वौ शुकपोतकौ वसतः। तस्य पर्वतस्य उपरि गोचरग्रामे पञ्चशतचोराः च पर्वतस्य नीचे रमणीयाश्रमे पञ्चशततापसाः च निवसन्ति। एकस्मिन् दिने आगतप्रवातः द्वौ शुकपोतकौ अपाहरत्। अथ तयोः एकः चोरानामन्तरे अपतत्। स नाम्ना शस्त्रिगुल्म इति। अन्यः तापसारामम् अपतत्। पुष्पकः इति तस्य नाम भवति।

एकस्मिन् दिने पञ्चालराजप्रमुखा बहवो जना वनक्रीडायै वनं अगच्छन् । क्रमेण स राजा चोराणां गोचरग्रामम् अगमत् ,वृक्षस्यमूले अशेते। तत्र वसन् शस्त्रिगुल्मशुको राजानं दृष्ट्वा एवं वदति । हे हे चोराः, वृक्षस्य मूले कश्चिद् अस्ति। तस्य सन्तिके बहूनि आभरणानि सन्ति। तानि सर्वाणि विलुम्प्य वयं सुखेन जीवामः इति। तस्य प्रकाशं श्रुत्वा राजा रथाचार्येण सह तस्माद् ग्रामाद् निरगच्छत्। अनन्तरम् इतस्ततः भ्रमन् स राजा पर्वतमूले तापसारामम् अगमत् । तत्र पुष्पकः वृक्षस्य शारवायां लग्नः आसीत्। राजानं दृष्ट्वा स प्रीत्या मधुरया वाण्या अवदत्। "भो मम मित्र, आगच्छतु! मधुराणि फलानि भुञ्जतु! शीतोदकं पिबतु!" इति। अथ शुकः सादरं सुखदुःखं विचारयति। आहाराय फलं वितरति। आसनं प्रददाति। शीतोदकं यच्छति ।

राजा तस्य अतिथिसत्कारेण परं प्रहृष्टः तयोः शुकयोः समविषमतां चिन्तयित्वा पृच्छति । "हे शुक, युवां रूपेण समानौ । न गुणेन। कस्मात् एवं भवथः" ? इति त्वं चिन्तयसि। शुक आह। " भो राजन्, पुरा आवां द्वौ भ्रातरौ अभवाव। तथापि स चोराणां समीपे अवर्धयत। अहं तापसारामे अवर्धयम् "। अथ स शुकः इदं धर्मं अदेशयत् । " यः सत्पुरुषान् भजते, नूनं स सत्पुरुषो भविष्यति । यः असत्पुरुषान् आश्रयति, नूनं स असत्पुरुषो भविष्यति । तस्मात् वयमपि साधुभिः सार्धं मित्रत्वं प्राप्य सत्पुरुषाः भविष्यामः " इति ।

अतीते शस्त्रिगुल्मो वर्तमाने देवदत्तस्थविरः। पुष्पकः सम्यक् सम्बुद्धो भवति ।

## 5.1 ක්‍රියාකාරකම

1. ඉහත කථාව හඬනඟා සාවධාන ව කියවන්න. තේරුම් ගන්න.

2. කථාවේ ඇතුළත් වර්ණ ගන්වන ලද පදවල නාම විභක්තිය හා වචනය දක්වන්න.

3. ලකාරය, පුරුෂය, වචනය වශයෙන් ක්‍රියාපද වගු ගත කරන්න. අභිමත වර්ණ භාවිත කරන්න.

## ක්‍රියාකාරකම සඳහා උපකාරක පද

| නාම පද | | | ක්‍රියා පද | | |
|---|---|---|---|---|---|
| नामन् | - | නම | अपहरति | - | පැහැර ගනියි |
| वाणि | - | වචනය | निरगच्छति | - | පෙරළා යයි / ඉවත්ව යයි |
| मधु | - | පැණි | वर्धते | - | වැඩෙයි |
| आगतप्रवात | - | පැමිණි සුළඟ | आश्रयति | - | ඇසුරු කරයි |
| चोरनामन्तर | - | සොරුන් අතර | पृच्छति | - | විමසයි |
| वसन् | - | වාසය කරන | चिन्तयति | - | සිතයි |
| भ्रमन् | - | හැසිරෙන | कथयति | - | කියයි |
| अतिथिसत्कार | - | ආගන්තුක සත්කාර | विलुम्प्य | - | සොරකම් කර |
| | | | लग्नः आसीत् | - | හුන්නේ විය |

**භාවිතයට**

**स जातो येन जातेन  याति वंशः समुन्नतिम् ।**
**परिवर्तिनि संसारे  मृतः को वा न जायते ॥**

උපන් දේශයේ, තම පරපුරේ යහපතට දායක වන තැනැත්තා නියම ලෙස උපන් තැනැත්තා වෙයි. පෙරළෙන මේ සසරේ මියයන කවරෙකු නම් නැවත නූපදී ද? (මැරෙන හැම කෙනෙක් ම නැවත උපදින නිසා අගය කිරීමට විශේෂ හේතුවක් නැත).

06
පාඩම
षष्ठः पाठः

# ඔබයි, මමයි - අපේ පන්සලයි

වර්ණ ගන්වා ඇති සර්වනාම හඳුනා ගනිමු.

| | |
|---|---|
| तत् सुन्दरम् । | - එය සුන්දරය. |
| ते पात्रे दानशालायां स्तः । | - ඒ පාත්‍ර දෙක දානශාලාවෙහි ඇත. |
| तानि म्लायन्ति । | - ඒවා මැලවේ. |
| सा कुसुमानि अवचिनोति । | - ඕ තොමෝ මල් කඩා රැස් කරයි. |
| ते धर्मपाठशालां आगच्छतः । | - ඕ තුමූ දෙදෙනා දහම්පාසලට එති. |
| ताः जातिकगीतं गायन्ति । | - ඕ තුමූ ජාතිකගීය ගායනා කරති. |
| सः घण्ठां नादयति । | - හෙතෙම සණ්ටාව නාද කරයි. |
| तौ विहारं गच्छतः । | - ඔවුහු දෙදෙනා විහාරයට යති. |
| ते पिण्डाय चरन्ति । | - ඔවුහු පිඬු පිණිස හැසිරෙති. |
| अहं काञ्चना अस्मि । | - මම කාංචනා වෙමි. |
| आवां परित्राणदेशनाय गच्छावः । | - අපි දෙදෙනා පිරිත් දේශනාව සඳහා යමු. |
| वयं चीवराणि प्रक्षालयामः । | - අපි සිවුරු සෝදමු. |
| त्वं सत्यं वद । | - ඔබ ඇත්ත කියන්න. |
| युवाम् आरोग्यशालां गच्छथः । | - ඔබලා දෙදෙනා රෝහලට යහු. |
| यूयं ग्लानप्रत्ययं सम्पादयथ । | - ඔබලා ගිලන්පස සුදානම් කරන්න. |

## 6.1 අභ්‍යාසය

සුදුසු සර්වනාම පදය යොදා හිස්තැන් පුරවන්න.

१. ................................... धर्मं भाषति ।

२. ................................... प्रदीपानि ज्वलयामः ।

३. ................................... पात्रं गृह्णाति ।

४. ........................................ मञ्चे शेते ।
५. ........................................ बोधिअङ्गनं पवित्रयामि ।
६. ........................................ परित्राणदेशनं शृण्वन्ति ।
७. ........................................ पुण्यकर्माणि करोति ।
८. ........................................ दारकं लालयति ।
९. ........................................ प्रवृत्तिपत्रं क्रीणन्ति ।
१०. ........................................ प्रत्यशतकं पठतः ।

( तौ, सः, सा, त्वं, अहं, ते, वयं )

## 6.2 අභ්‍යාසය



## माता आरक्षकः च

पुत्रः - मातः , कः अयं ?
माता - पुत्र , अयं भटः ।
पुत्रः - भटः किं करोति ?
माता - स अस्माकं देशं रक्षति ।
पुत्रः - सत्यम् , तस्य वस्त्रं विचित्रम् ।
अहं च देशारक्षकः भविष्यामि ।
माता - अस्तु , तव प्रार्थना सफला भवतु ।

ඉහත සංවාද හඬනගා කියවන්න.

## 6.3 අභ්‍යාසය



සිංහලයට නගන්න.

अयम् अस्माकं विहारम् । अहं प्रतिदिनं तत्र गच्छामि। तं विचित्रम्। तत्र चैत्यं भवति। तस्य अभिमुखे उपासिका तिष्ठति। सा चैत्यं वन्दति। तस्याः दुहितरौ बोधिअङ्गणं पवित्रयतः। तौ श्वेतवस्त्रैर्विलसतः। दक्षिणात्ये श्रामणेराः दृश्यन्ते। ते तं बोधिद्रुमं वन्दन्ति। अस्मिन् बोधिद्रुमे बहवः ध्वजाः विलसन्ति। तानि वायुना चलन्ति। इयम् आश्रम भूमिम् अस्माकं चित्तं समाधियति। तस्मात् सर्वे दायकाः अत्र आगच्छन्ति। ते वन्दन्ति, चङ्क्मन्ति। केचित् यतीन्द्रेण सार्धं धर्मसंभाषणं कुर्वन्ति।

## 6.1 ක්‍රියාකාරකම

කියවන්න, වාචෝද්ගත කරන්න.

| | අස්මද් ශබ්දය | | |
|---|---|---|---|
| विभक्ति | एकवचन | द्विवचन | बहुवचन |
| प्रथमा | अहम् | आवाम् | वयम् |
| | මම | අපි දෙදෙන | අපි |
| द्वितीया | माम् , मा | आवाम् , नौ | अस्मान् ,नः |
| | මා | අප දෙදෙනා | අප |
| तृतीया | मया | आवाभ्याम् | अस्माभिः |
| | මා විසින් | අප දෙදෙනා විසින් | අප විසින් |

| | | | |
|---|---|---|---|
| चतुर्थी | मह्यम् ,मे | आवाभ्याम् , नौ | अस्मभ्यम् ,नः |
| | මට | අප දෙදෙනාට | අපට |
| पञ्चमी | मत् | आवाभ्याम् | अस्मत् |
| | මගෙන් | අප දෙදෙනාගෙන් | අපෙන් |
| षष्ठी | मम, मे | आवयोः, नौ | अस्माकम् ,नः |
| | මගේ | අප දෙදෙනාගේ | අපේ |
| सप्तमी | मयि | आवयोः | अस्मासु |
| | මා කෙරෙහි | අප දෙදෙනා කෙරෙහි | අප කෙරෙහි |

| | යුෂ්මද් ශබ්දය | | |
|---|---|---|---|
| विभक्ति | एकवचन | द्विवचन | बहुवचन |
| प्रथमा | त्वम् | युवाम् | यूयम् |
| | නුඹ | නුඹලා දෙදෙනා | නුඹලා |
| द्वितीया | त्वाम् ,त्वा | युवाम् ,वाम् | युष्मान् , वः |
| | නුඹ | නුඹලා දෙදෙනා | නුඹලා |
| तृतीया | त्वया | युवाभ्याम् | युष्माभिः |
| | නුඹ විසින් | නුඹලා දෙදෙනා විසින් | නුඹලා විසින් |
| चतुर्थी | तुभ्यम् ,ते | युवाभ्याम् | युष्मभ्यम् ,वः |
| | නුඹට | නුඹලා දෙදෙනාට | නුඹලාට |

| | | | |
|---|---|---|---|
| पञ्चमी | त्वत् | युवाभ्याम् | युष्मत् |
| | නුඹගෙන් | නුඹලා දෙදෙනාගෙන් | නුඹලාගෙන් |
| षष्ठी | तव, ते | युवयोः , वाम् | युष्माकम् , वः |
| | නුඹගේ | නුඹලා දෙදෙනාගේ | නුඹලාගේ |
| सप्तमी | त्वयि | युवयोः | युष्मासु |
| | නුඹ කෙරෙහි | නුඹලා දෙදෙනා කෙරෙහි | නුඹලා කෙරෙහි |

## අභ්‍යාස සඳහා උපකාරක පද

**නාම පද**

अङ्गण - මිදුල
आभिमुरव - ඉදිරිය

**ක්‍රියා පද**

ज्वलति - දල්වයි
गृह्णाति - ගනියි
शेते - නිදයි
लालयति - නළවයි
क्रीणाति - මිලට ගනියි
विलसति - බබළයි
चंक्रमति - සක්මන් කරයි

**භාවිතයට**

प्रथमे नार्जिता विद्या - द्वितीये नार्जितं धनम् ।
तृतीये नार्जितं पुण्यं - चतुर्थे किं करिष्यति ॥

පළමු ව (ළමා කාලයේ දී) ඉගෙනීම නොලබා, දෙවනු ව (තරුණ කාලයේ දී) ධනය රැස් නොකොට, තෙවනු ව (වයස්ගත වූ විට) පින් නූපදවා සිට සිවුවැනි ව (මරණින් පසු) කුමක් කරන්නේ ද ?

07
පාඩම
सप्तमः पाठः

# ඒ උයනකි; මේ පියුමකි

සර්වනාම විශේෂණ ලෙස යෙදේ.

| | | |
|---|---|---|
| सः श्रामणेरः | - | ඒ සාමණේරයන් වහන්සේ නමකි. |
| तौ महाशयौ | - | ඒ මහත්වරු දෙදෙනෙකි. |
| ते आदिशिष्याः | - | ඒ ආදි ශිෂ්‍යයෝ ය. |
| अहं श्रमणः | - | මම භික්ෂුවක් මි. |
| आवां सज्जनौ | - | අපි දෙදෙන සත්පුරුෂයෝ ය. |
| वयं मित्राणि | - | අපි මිත්‍රයෝ ය. |
| त्वं शिष्यः | - | ඔබ ශිෂ්‍යයෙකි. |
| युवां भ्रातरौ | - | නුඹලා දෙදෙන සොහොයුරෝ ය. |
| यूयं दायकाः | - | නුඹලා දායකයෝ ය. |
| सा दशशीलमाता | - | ඕ තොමෝ දසසිල් මාතාවකි. |
| ते गायिके | - | ඕ තුමූ දෙදෙන ගායිකාවෝ ය. |
| ताः निवेदिकाः | - | ඕ තුමූ නිවේදිකාවෝ ය. |
| तत् उद्यानम् | - | ඒ උයනකි. |
| ते खनित्रे | - | ඒ උදලු දෙකකි. |
| तानि पद्मानि | - | ඒවා පියුම් ය. |

## 7.1 අභ්‍යාසය

පහත නාම පදවලට විශේෂණයක් ලෙස යෙදිය හැකි සුදුසු සර්වනාම පද සොයා යා කරන්න.

| | |
|---|---|
| १. सः | अग्रजः |
| २. तौ | पितामहः |
| ३. ते | वैद्याः |
| ४. त्वं | दशशीलमातरः |
| ५. आवाम् | लेखकाः |
| ६. यूयं | महाशयौ |
| ७. तानि | परिगणकम् |
| ८. सा | जनाधिपः |
| ९. तत् | बुद्धश्रावकौ |
| १०. ताः | यतयः |
| ११. अहं | गीतानि |
| १२. वयं | वार्ता |

## 7.2 අභ්‍යාසය

පහත සඳහන් වාක්‍ය සුදුසු සර්වනාමපද යොදා සම්පූර්ණ කරන්න.

१. ........................................ उपासिका बुद्धं प्रणमति ।

२. ........................................ गोपालौ वृषभौ नयतः ।

३. ........................................ भिक्षवः पिण्डाय चरन्ति ।

४. ........................................ पुस्तकं पुस्तकालये अस्ति ।

५. ........................................ शिष्यौ अध्ययनाय गच्छतः ।

६. ........................................ उपासकाः पुष्पाणि पूजयन्ति ।

७. ........................................ श्रामणेराः सुभाषितं वदन्ति ।

८. ........................................ आचार्यः कार्यालये उपविशति ।
९. ........................................ याचकः धर्मशालायां स्वपिति ।
१०. ........................................ जनाः आत्मनः दोषं न पश्यन्ति ।

## 7.3 අභ්‍යාසය

පහත වාක්‍යාංශ සංස්කෘතයට නගා දේවනාගරී අකුරෙන් ලියන්න.

1. ඒ ළමයෙකි.
2. ඒ ශිෂ්‍යයෝ දෙදෙනෙකි.
3. ඒ දායකයෝ ය.
4. ඒ පාත්‍රයකි.
5. ඒවා පොත් ය.
6. මම භික්ෂුවකි.
7. අපි දෙදෙන යහළුවෝ ය.
8. අපි ව්‍යාපාරිකයෝ ය.
9. ඔබ නායකයෙකි.
10. නුඹලා දෙදෙන සහෝදරයෝ ය.
11. නුඹලා අගන්තුකයෝ ය.
12. ඒ චිත්‍ර ය.

## උපකාරක පද

| නාම පද | | | ක්‍රියා පද | | |
|---|---|---|---|---|---|
| अग्रज | - | අයියා | स्वपिति | - | නිදයි |
| पितामह | - | සීයා | | | |
| वार्ता | - | වාර්තාව | | | |
| अध्ययन | - | ඉගෙනීම | | | |
| सुभाषित | - | යහපත් වචන | | | |
| आत्मन् | - | තමා | | | |
| व्यापारिक | - | ව්‍යාපාරිකයා | | | |
| आगन्तुक | - | ආගන්තුකයා | | | |

භාවිතයට

यस्य नास्ति स्वयं प्रज्ञा - शास्त्रं तस्य करोति किम् ।
लोचनाभ्यां विहीनस्य - दर्पणः किं करिष्यति ॥

යමෙකුට තමාගේ ම වූ වටහා ගත හැකි නුවණක් (ස්වයං ප්‍රඥාවක්) නැත්නම් ඔහුට ශාස්ත්‍රය කුමන උපකාරයක් කරයි ද ? (ශාස්ත්‍රයෙන් කිසිදු වැඩක් නැත) දෙ ඇස නැති කෙනෙකුට කැඩපත කුමක් කරන්න ද ? (කණ්ණාඩියෙන් කුමන ඵලයක් ද ?)

08 පාඩම
अष्ठमः पाठः

# ඒ අපේ රටයි; මේ අපේ සසුනයි

නාමපදය වෙනුවට සර්වනාමපදය යෙදේ.

बालः गायति। स मधुरं गायति। श्रामणेरौ पठतः। तौ परीक्षणात् उत्तीर्यतः। शिष्याः शालायाम् उपविशन्ति। ते पाठान् पठन्ति।

अत्र बालिका तिष्ठति। सा नन्दस्य स्वसा।

भ्राता कुत्र वसति? स स्वगृहे वसति। इदम् आम्रफलम्। तत् मधुरम्। बहवः धूमरथाः सन्ति। ते अतिवेगेन चलन्ति। अत्र बहूनि चीवराणि सन्ति। तानि पीतवर्णेन विलसन्ति। उपासिकाः पर्णशालां गच्छन्ति। ताः धर्मं श्रुण्वन्ति। कर्षकौ क्षेत्रं गच्छतः। तौ कर्षतः।

## 8.1 අභ්‍යාසය

සුදුසු සර්වනාමපද යොදන්න.

१. बालकाः पाठालयं गच्छन्ति। .................. रथेन गच्छन्ति।
२. सिंहाः वने वसन्ति। .................. चण्डाः।
३. निवेदिकाः वार्तां कथयन्ति। .................. सम्यक् कथयन्ति।
४. पुष्पं रुचिरम्। तथापि .................. म्लायति।
५. लेखकाः पुस्ताकानि रचयन्ति। .................. कवयः पठन्ति।
६. पाठालये वेलासूचनयन्त्रम् अस्ति। .................. वेलां दर्शयति।
७. विदेशिकौ हिक्कडुव नगरे निवसतः। .................. समुद्रतीरे सञ्चरतः।
८. याचकः रथं प्राप्णोति। .................. मधुरं गीतं गायति।
९. कालिदासः महाकविः बभूव। .................. रघुवंशम् अरचयत्।
१०. विहारमहादेवी काकवर्णतिश्य राज्ञः देवी। .................. ग्रामिणी कुमारस्य माता।

## 8.2 අභ්‍යාසය

පහත සඳහන් වාක්‍ය සංස්කෘතයට නඟා දේවනාගරී අකුරෙන් ලියන්න.

1. ආදිවාසීහු කැලෑවෙහි වාසය කරති. ඔවුහු පැණි නිෂ්පාදනය කරති.
2. ළමයා පුස්තකාලයට යයි. ඔහු අලුත් වචන සොයයි.
3. මෙහි රස කැවිලි ඇත. ඒවා දේශීය නිෂ්පාදන වේ.
4. ක්‍රීඩිකාවෝ විදේශ ගත වූහ. ඔවුහු කුසලානය ගෙන ආහ.
5. මේ චිත්‍රය බලන්න. එය විසිතුරු ය.

## 8.3 අභ්‍යාසය



ඉහත සඳහන් පින්තූරය නිරීක්ෂණය කරමින් පහත සඳහන් ඡේදය කියවන්න. එහි ඇති සර්වනාම පද තෝරා දක්වන්න.

महा महेन्द्रस्थविरः ज्येष्ठमासे लङ्कां सम्प्राप्तः। स धर्माशोकराज्ञः पुत्रः। तस्य स्वसा संघमित्ता नाम। सा श्री महाबोधिद्रुमं आनयत्। स अद्य अनुराधपुरे अस्ति। तया सार्धं बहवः जनाः आसन्। ते विविधकार्येषु कृतहस्ता अभवन्। तदा देवानंपियतिस्स राजा लङ्कायां नृपतिः। अनुलादेवी तस्य महेषिका। सा अत्र प्रथमा भिक्षुणी अभवत्।

## 8.4 අභ්‍යාසය

නිවැරදි සර්වනාම පදය වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

१. .................... जनानां हितार्थाय बुद्धः धर्मं अदेशयत्। ( बहूनां / बहुषु )

२. राजा .................... रिपून् अजयत्। ( सर्वान् / सर्वम् )

३. .................... काले लङ्कायां महादुर्भिक्षं बभूव। ( एकस्मिन् / एका )

४. पुरा लङ्कायां शुभः च यशः च नामनी.................... सखायौ आस्ताम्। ( द्वौ / द्वे )

५. परित्राणदेशनानुभावेन .................... उपद्रवाणि विनश्यन्तु। ( सर्वम् / सर्वाणि )

६. भुवि .................... सत्त्वा सुखिता भवन्तु। (सर्वे / सर्वा )

७. ....................व्यापारिकाः अस्मिन् काले....................दिशायां संञ्चरन्ति।
( बहवः / बहूनि) ( उत्तरस्यां । उत्तरस्मिं )

## 8.1 ක්‍රියාකාරකම

කියවන්න, වාචෝද්ගත කරන්න.

| තද් ශබ්දය (ස්ත්‍රී ලිංගයෙහි) | | | |
|---|---|---|---|
| विभक्ति | एकवचन | द्विवचन | बहुवचन |
| प्रथमा | सा | ते | ताः |
| द्वितीया | ताम् | ते | ताः |
| तृतीया | तया | ताभ्याम् | ताभिः |

| | | | |
|---|---|---|---|
| चतुर्थी | तस्यै | ताभ्याम् | ताभ्यः |
| पञ्चमी | तस्याः | ताभ्याम् | ताभ्यः |
| षष्ठी | तस्याः | तयोः | तासाम् |
| सप्तमी | तस्याम् | तयोः | तासु |

## උපකාරක පද

**නාම පද**

ज्येष्ठमास - පොසොන් මාසය
स्वसृ - සහෝදරිය
आम्रफल - අඹ ගෙඩිය
धूमरथ - දුම්රිය
पीतवर्ण - කහපාට
वेलासूचनयन्त्र - ඔරලෝසුව
समुद्रतीर - වෙරළ තීරය
आदिवासिन् - ආදිවාසියා
देशीयनिष्पादन - දේශීය නිෂ්පාදන
क्रीडिका - ක්‍රීඩිකාව

**ක්‍රියා පද**

श्रुणोति - අසයි
कर्षति - සී සායි
निष्पादयति - නිෂ්පාදනය කරයි

**නිපාත පද**

सम्यक् - හොඳින්

**භාවිතයට**

नीचो वदति न कुरुते न वदति सुजनः करोत्येव ।
शरदि न वर्षति गर्जति वर्षासु निस्वनो मेघः ।

පහත් මිනිසා කියනවා පමණි; නො කරයි. උතුම් මිනිසා නො කියයි; කරන්නේ ම ය. ශරත් කාලයෙහි නො වසියි, ගුගුරයි. වර්ෂා කාලයෙහි මේඝය හඬ නො නගා ම වසී.

09
පාඩම
नवमः पाठः

# පද සොයමු; යා කරමු

විශේෂ්‍යපද වරනැගෙන ආකාරයට ම විශේෂණපද ද වරනැගේ.

वानरः तुङ्गाद् वृक्षात् पतति ।
सिंहराजाटव्यां मधुराणि फलानि सन्ति ।
गगने कृष्णाः च शुक्लाः च मेघाः दृश्यन्ते ।
कुमारिकाः सुन्दरेषु उद्यानेषु विचित्राणि पुष्पाणि पश्यन्ति ।
उपासिका बुद्धपूजायै विचित्रां मालां रचयति ।
भिक्षवः मधुरैः धर्मदेशनैः जनान् सुबोधयन्ति ।
निम्नगासु महावालुकानदी दीर्घा इति कथ्यते ।
तुङ्गेषु शिखरेषु पिदुरुतलागलः नाम पर्वतः उच्चतमो भवति ।
कतरगमपूजाभूमिप्रदेशे आपणेषु रसवन्तानि मोदकानि सन्ति ।
गीतगोविन्दं रमणीयं काव्यम् इति केचित् वर्णयन्ति ।

## 9.1 අභ්‍යාසය

සිංහලයට නගන්න.

राहुल, त्वं केन हस्तेन लिखसि ?
नन्द, अहं अनेन हस्तेन लिखामि ।
एकः दक्षिणहस्तः । अन्यः वामहस्तः ।
एकस्मिन् हस्ते पञ्चाङ्गुल्यः सन्ति ।
द्वयोः हस्तयोः दशअङ्गुल्यः सन्ति ।

## 9.2 අභ්‍යාසය

සුදුසු සර්වනාම පද වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

१. अत्र ........................... बालकः ........................... बालिका च तिष्ठतः।

२. तस्य ........................... धनानि सन्ति।

३. अस्माकं ग्रामे ........................... कर्षकाः नीरोगा भवन्तु।

४. राहुलस्थविरस्य कीर्तिः ........................... दिशासु व्याप्ता।

५. ........................... गुरोः धर्मदेशनं मधुरम्।

६. भिक्षवः ........................... जनेषु दयां कुर्वन्ति।

(सर्वेषु, एकः, तस्य, एका, सर्वे, सर्वासु, बहूनि)

## 9.3 අභ්‍යාසය

පහත නාමපදවලට විශේෂණයක් ලෙස යෙදිය හැකි සුදුසු සර්වනාමපදය සොයා යා කරන්න.

| | |
|---|---|
| १. सर्वेषाम् | विहारे |
| २. एकस्मिन् | दिशायाम् |
| ३. दाक्षिण्याम् | रिपून् |
| ४. तस्मात् | काले |
| ५. द्वौ | नदीनाम् |
| ६. अस्मिन् | जनानाम् |
| ७. सर्वान् | दिशि |
| ८. एका | वनात् |
| ९. सर्वासाम् | बालिका |
| १०. उत्तरस्यां | बालकौ |

## 9.1 ක්‍රියාකාරකම

වරහන තුළ දී ඇති පද කියවන්න. 1 සිට 6 දක්වා ඇති ශීර්ෂ යටතේ වෙන් කරන්න. ඉන්පසු ව වෘත්තයෙහි අදාළ අංක ඇති ස්ථානයෙහි ලියන්න.




1. අස්මද් ශබ්දය
2. යුෂ්මද් ශබ්දය
3. තද් ශබ්දයේ පුරුෂ හා නපුංසක ලිංග
4. සුන්දර ශබ්දය
5. තද් ශබ්දයේ ස්ත්‍රී ලිංග පද
6. ඉහත දක් වූ පදවර්ගවලට අයත් නොවන පද

( सुन्दरम् , त्वम् , छत्रम् , मम, ते, सुन्दराः, त्वयि, मया, ताः, वायसः, सुन्दरे , ताम् , त्वया, आवाम् , सा, युष्माभिः, अस्माकम् , तस्य, फलम् , सुन्दरस्य , अस्मिन् , आवयोः, तस्याः, तस्मिन् , तयोः, माता, तानि )

## 9.2 ක්‍රියාකාරකම

කියවන්න. වාචෝද්ගත කරන්න.

තද් ශබ්දය (නපුංසක ලිංගයෙහි)

| विभक्ति | एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|---|
| प्रथमा | तत् | ते | तानि |
| द्वितीया | तत् | ते | तानि |
| तृतीया | तेन | ताभ्याम् | तैः |
| चतुर्थी | तस्मै | ताभ्याम् | तेभ्यः |
| पञ्चमी | तस्मात् | ताभ्याम् | तेभ्यः |
| षष्ठी | तस्य | तयोः | तेषाम् |
| सप्तमी | तस्मिन् | तयोः | तेषु |

## උපකාරක පද

නාම පද

अटवि - වනය
गगन - අහස
मेघ - වලාකුළ
आपण - කඩය
निम्नगा - නදිය

නාම විශේෂණ

तुङ्ग - උස
कृष्ण - කළු
शुक्ल - සුදු
शिखर - මුදුන
रसवत् - රසවත්

ක්‍රියා පද

प्रबोधयति - පුබුදුවයි

භාවිතයට

चलत्येकेन पादेन - तिष्ठत्येकेन बुद्धिमान् ।
नासमीक्ष्य परं स्थानं - पूर्वमायतनं त्यजेत् ॥

බුද්ධිමතා එක පයකින් (සිටි තැන) සිටී. අනෙක් පයින් යයි. (සිටි තැන අත් නො හැර අන් තැනකට යාමට උත්සහ නො කරයි). අනෙක් ස්ථානය ගැන මැනවින් නො සොයා මුල් ස්ථානය අත් නො හරී.

10 පාඩම
दशमः पाठः

# කලට වැසි වසීවා! රජු දැහැමි වේවා!

ප්‍රාර්ථනාර්ථ ලෝට් (लोट्) ලකාරය
(ප්‍රථම පුරුෂ)

**देवः वर्षतु कालेन ! राजा भवतु धार्मिकः !**
(කලට වැසි වසීවා! ......... රජු දැහැමි වේවා!)

| | | | | | |
|---|---|---|---|---|---|
| वर्षति | - | වසියි | वर्षतु | - | වසීවා! |
| भवति | - | වෙයි | भवतु | - | වේවා! |
| नमति | - | වඳියි | नमतु | - | වඳීවා! |
| अटति | - | ඇවිදියි | अटतु | - | ඇවිදීවා! |
| स्मरति | - | සිහිකරයි | स्मरतु | - | සිහිකරාවා! |

සාදාගන්නා ක්‍රමය :- ධාත්වංගය + ප්‍රාර්ථනාර්ථ ප්‍රත්‍යය = ප්‍රාර්ථනාර්ථ ක්‍රියාපදය

| | | | | |
|---|---|---|---|---|
| वर्षति | - | वर्ष~~ति~~ + तु | - | वर्षतु |
| भवति | - | भव~~ति~~ + तु | - | भवतु |
| नमति | - | नम~~ति~~ + तु | - | नमतु |
| नमतः | - | नम~~तः~~ + ताम् | - | नमताम् |
| अटतः | - | अट~~तः~~ + ताम् | - | अटताम् |
| प्रणमतः | - | प्रणम~~तः~~ + ताम् | - | प्रणमताम् |
| स्मरन्ति | - | स्मर~~न्ति~~ + न्तु | - | स्मरन्तु |
| लिखन्ति | - | लिख~~न्ति~~ + न्तु | - | लिखन्तु |
| चिन्तयन्ति | - | चिन्तय~~न्ति~~ +न्तु | - | चिन्तयन्तु |

ප්‍රාර්ථනාර්ථ "ලෝට්" ( लोट् ) පරස්මෛපද ප්‍රත්‍යය මාලාව

| पुरुष | एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|---|
| प्रथमपुरुष | तु | ताम् | (अ)न्तु |
| मध्यमपुरुष | (हि) - | तम् | त |
| उत्तमपुरुष | आनि | आव | आम |

√वस् ධාතුව ලෝට් (ප්‍රාර්ථනාර්ථ) පරස්මෛපදයෙහි වරනැඟීම

| पुरुष | एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|---|
| प्रथमपुरुष | वसतु | वसताम् | वसन्तु |
| मध्यमपुरुष | वस | वसतम् | वसत |
| उत्तमपुरुष | वसानि | वसाव | वसाम |

## 10.1 අභ්‍යාසය

පහත සඳහන් ලට්ලකාර ක්‍රියාපදවලින් ලෝට් ප්‍රාර්ථනාර්ථ ක්‍රියාපද වෙනස් වන ආකාරය හඳුනා ගනිමු.

| ලට් (වර්තමාන කාල) ක්‍රියාපද | | | ලෝට් (ප්‍රාර්ථනාර්ථ) ක්‍රියාපද | | |
|---|---|---|---|---|---|
| पठति | - | පාඩම් කරයි | पठतु | - | පාඩම් කරාවා! |
| नमति | - | වඳියි | नमतु | - | වඳීවා! |
| भवति | - | වෙයි | भवतु | - | වේවා! |
| पचति | - | උයයි | पचतु | - | උයාවා! |
| लभति | - | ලබයි | लभतु | - | ලබාවා! |
| इच्छतः | - | (දෙදෙන) කැමති වෙති | इच्छताम् | - | (දෙදෙන) කැමති වෙත්වා! |
| तुष्यतः | - | (දෙදෙන) සතුටු වෙති | तुष्यताम् | - | (දෙදෙන) සතුටු වෙත්වා! |
| पश्यतः | - | (දෙදෙන) දකිති | पश्यताम् | - | දෙදෙන) දකිත්වා! |
| धावतः | - | (දෙදෙන) දුවති | धावताम् | - | (දෙදෙන) දුවත්වා! |
| क्रीडतः | - | (දෙදෙන) ක්‍රීඩා කරති | क्रीडताम् | - | (දෙදෙන) ක්‍රීඩා කරත්වා! |
| मुञ्चन्ति | - | මුදති | मुञ्चन्तु | - | මුදත්වා! |
| पूजयन्ति | - | පුදති | पूजयन्तु | - | පුදත්වා! |
| स्मरन्ति | - | සිහිකරති | स्मरन्तु | - | සිහිකරත්වා! |
| अटन्ति | - | ඇවිදිති | अटन्तु | - | ඇවිදිත්වා! |
| वर्णयन्ति | - | වර්ණනා කරති | वर्णयन्तु | - | වර්ණනා කරත්වා! |

ප්‍රාර්ථනාර්ථ ''ලෝට්'' ක්‍රියාව යෙදී ඇති වාක්‍ය උගනිමු.

**देवः वर्षतु कालेन**
**शस्यसम्पत्तिः भवतु ।**
(කලට වැසි වසීවා! - කෙත්වතු සාර වේවා!)

**राजा भवतु धार्मिकः ।**
(රජු දැහැමි වේවා!)

**गुरुः देवः भवतु ।**
(ගුරුවරයා දෙවියෙක් වේවා!)

**पन्थानः सन्तु ते शिवाः ।**
(ඔබේ ගමන් මග යහපත් වේවා!)

**भवतु सर्वमङ्गलम् ।**
**रक्षन्तु सर्वदेवताः ।**
(සියලු යහපත වේවා! - සියලු දෙවියෝ රකිත්වා!)

**पितुः वचनम् अनुतिष्ठतु ।**
(පියාගේ කීම අනුව සිටීවා!)

**नराणां व्याधयः नश्यन्तु ।**
**जनाः सदानन्दम् अनुभवन्तु ।**
(මිනිසුන්ගේ රෝග නැසෙත්වා! - ජනයා සැමදා සතුට විඳිත්වා!)

**भूपतयः सर्वदा प्रजाः धर्मेण रक्षन्तु ।**
(රජවරු සැමදා ජනයා දැහැමින් රකිත්වා!)

## 10.2 අභ්‍යාසය

පහත සඳහන් වර්තමානකාල ක්‍රියාපදවල ප්‍රාර්ථනාර්ථ ලෝට් ක්‍රියාපදරූපය සාදන්න. තේරුම ද ලියන්න.

උදා :- हसति - हसतु (සිනහසේවා!)

१. देशयति - .................... (..................................)
२. लसति - .................... (..................................)
३. रक्षति - .................... (..................................)
४. प्रीणयति - .................... (..................................)
५. जयति - .................... (..................................)
६. गच्छति - .................... (..................................)
६. प्रविशति - .................... (..................................)
८. पिबति - .................... (..................................)
९. पश्यति - .................... (..................................)
१०. नृत्यति - .................... (..................................)

## 10.3 අභ්‍යාසය

උදා :- हरतः - हरताम् (දෙදෙන ගෙනෙත්වා!)

१. नमतः - .................... (......................................)
२. वन्दतः - .................... (......................................)
३. पठतः - .................... (......................................)
४. तुष्यतः - .................... (......................................)
५. उपविशतः - .................... (......................................)
६. लभतः - .................... (......................................)
७. नयतः - .................... (......................................)
८. प्रभवतः - .................... (......................................)
९. विन्दतः - .................... (......................................)
१०. भवतः - .................... (......................................)

## 10.4 අභ්‍යාසය

| | | | |
|---|---|---|---|
| උදා :- लालयन्ति | - | लालयन्तु | (නළවත්වා!) |
| १. पचन्ति | - | .................... | (......................................) |
| २. आरोहन्ति | - | .................... | (......................................) |
| ३. संगच्छन्ति | - | .................... | (......................................) |
| ४. निषीदन्ति | - | .................... | (......................................) |
| ५. व्रजन्ति | - | .................... | (......................................) |
| ६. निष्क्रमन्ति | - | .................... | (......................................) |
| ७. पालयन्ति | - | .................... | (......................................) |
| ८. प्रीणयन्ति | - | .................... | (......................................) |
| ९. भुञ्जन्ति | - | .................... | (......................................) |
| १०. वदन्ति | - | .................... | (......................................) |

## 10.5 අභ්‍යාසය

පහත දී ඇති ප්‍රාර්ථනාර්ථ ලෝට් ප්‍රථමපුරුෂ ද්විවචනය සඳහා ඒකවචන හා බහුවචන ක්‍රියාපද හිස්තැන්වල යොදන්න.

| एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|
| १. विनयतु | विनयताम् | विनयन्तु |
| २. ........................... | अपहरताम् | ........................... |
| ३. ........................... | प्रविशताम् | ........................... |
| ४. ........................... | परिचारयताम् | ........................... |
| ५. ........................... | सरताम् | ........................... |
| ६. ........................... | जयताम् | ........................... |
| ७. ........................... | पचताम् | ........................... |
| ८. ........................... | व्रजताम् | ........................... |
| ९. ........................... | निष्क्रमताम् | ........................... |
| १०. ........................... | निषीदताम् | ........................... |

## 10.6 අභ්‍යාසය

වරහන් තුළ දැක්වෙන ක්‍රියා මූලයන්ගෙන් ප්‍රාර්ථනාර්ථ ලෝට් ක්‍රියාපද සාදා සුදුසු පරිදි හිස්තැන් පුරවන්න.

१. बालकः सुमित्रं .............................. ( √भू → भव)
२. साधवः निर्वाणं .............................. (प्र +√विश् → प्रविश )
३. आचार्यः देवः .............................. (√भू → भव)
४. सत्यं .............................. (√जि → जय)
५. सख्यौ पुष्पाणि .............................. (आ + √नी → आनय)
६. श्रामणेरः धर्मं ................अधर्मं.................( √भज् → भज) ( √त्यज् →त्यज )
७. सः सत्यम् .............................. (√वद् →वद )
८. मयूरौ प्रासादस्य शिखरे .............................. (√नृत्य् →नृत्य )
९. जनः सदानन्दम् .............................. (अनु + √भू → अनुभव)
१०. अस्माकं शिष्याः सम्यक् पाठं .............................. (√पठ् →पठ)

## 10.7 අභ්‍යාසය

ප්‍රාර්ථනාර්ථ ලෝට් ක්‍රියාපද හා ඒවායේ අර්ථ පහත දැක්වේ. ඒවා සුදුසු පරිදි යා කරන්න.

| | |
|---|---|
| जयतु | දේශනා කරත්වා! |
| प्रीणयन्तु | ජය ලබාවා! |
| लभन्तु | භාවනා කරත්වා! |
| इच्छताम् | පිනවත්වා! |
| ध्यायन्तु | (අනාගතයේ) වේවා! |
| देशयन्तु | ලබත්වා! |
| तुष्यताम् | වාසය කරාවා! |
| गायतु | (දෙදෙන) කැමති වෙත්වා! |
| विहरतु | ගායනා කරාවා! |
| भविष्यतु | (දෙදෙන) සතුටු වෙත්වා! |

## 10.8 අභ්‍යාසය

පහත සඳහන් ත්‍රිවිධ චෛත්‍ය රූප සටහන් තුළ අන්තර්ගත ප්‍රාර්ථනාර්ථ ක්‍රියාපද පමණක් තෝරා පුස්තක ආකෘතියෙහි ඇති හිස්තැන්වල යොදන්න.












## උපකාරක පද

### ක්‍රියා පද

| | | | | | |
|---|---|---|---|---|---|
| प्रीणयति | - | පිනවයි | व्रजति | - | යයි |
| उपदिशति | - | උගන්වයි | निष्क्रमति | - | නික්මෙයි |
| ईक्षते | - | බලයි | भुङ्क्ते | - | අනුභව කරයි |
| प्रकाशते | - | බබළයි | विनयति | - | හික්මෙයි |
| नृत्यति | - | නටයි | अपहरति | - | පහ කරයි |
| निर्वतयति | - | නවතියි | दशति | - | දෂ්ට කරයි |
| लालयति | - | නළවයි | सरति | - | ගමන් කරයි/යයි |
| संगच्छति | - | එක්වෙයි | सुभिक्षति | - | පිඬු සිඟයි |
| ध्यायति | - | භාවනා කරයි | लसति | - | බබළයි |
| परिचरति | - | අනුව හැසිරෙයි | त्यजति | - | අත්හරියි |

